අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2015 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2015 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2015

බෞද්ධ ශිෂ්ටාචාරය I
பௌத்த நாகரிகம் I
Buddhist Civilization I

45 S I

පැය දෙකයි
இரண்டு மணித்தியாலம்
Two hours

**උපදෙස්:**

- ※ **සියලු ම** ප්‍රශ්නවලට උත්තර සපයන්න.
- ※ උත්තර පත්‍රයේ නියමිත ස්ථානයේ ඔබේ **විභාග අංකය** ලියන්න.
- ※ උත්තර පත්‍රයේ පිටුපස දී ඇති උපදෙස් ද සැලකිල්ලෙන් කියවා පිළිපදින්න.
- ※ **1** සිට **50** තෙක් එක් එක් ප්‍රශ්නයට (1), (2), (3), (4), (5) යන පිළිතුරුවලින් **නිවැරදි** හෝ **ඉතාමත් ගැළපෙන** හෝ උත්තරය තෝරාගෙන එය **උත්තර පත්‍රයේ දැක්වෙන උපදෙස් පරිදි කතිරයක් (X) යොද දක්වන්න.**

**1.** ඍග් වේදගත නිර්මාණවාදයට අනුව මනුෂ්‍ය වර්ගයා වර්ණභේද නියමයට අදාළ ව මැවීම සඳහා උපයෝගී කරගත් උත්පාදකස්ථාන අනුපිළිවෙළ වන්නේ,
(1) මුඛය, දෙබාහුව, දෙඅත්, දෙපතුල්
(2) මුඛය, දෙබාහුව, දෙඅත්, දෙකලවා
(3) මුඛය, දෙබාහුව, දෙඅත්, දෙපා
(4) මුඛය, දෙඅත්, දෙකලවා, දෙපතුල්
(5) මුඛය, දෙබාහුව, දෙකලවා, දෙපතුල්

**2.** භාරතීය සමාජය තුළ සියලු අංශවලින් සිය ආධිපත්‍යය තහවුරු කරගත් බ්‍රාහ්මණ කුලය වඩාත් ප්‍රබල ව තම අධිකාරිබලය පැතිරවූයේ,
(1) ආගමික හා දේශපාලන ක්ෂේත්‍රවල ය.
(2) ආගමික හා ආර්ථික ක්ෂේත්‍රවල ය.
(3) ආගමික හා නිෂ්පාදන ක්ෂේත්‍රවල ය.
(4) ආගමික හා අධ්‍යාපන ක්ෂේත්‍රවල ය.
(5) ආගමික හා පරිපාලන ක්ෂේත්‍රවල ය.

**3.** කුලභේදයට අනුව පාරම්පරික ජීවිකාරක්ෂා ක්‍රමය අඛණ්ඩ ව පවත්වා ගෙනයාම සඳහා විශේෂිත නියමයක් බ්‍රාහ්මණ ඉගැන්වීම්වල දැක්වේ. එය හැඳින්වෙන්නේ,
(1) වර්ණ ධර්මය ලෙස ය.
(2) ආශ්‍රම ධර්මය ලෙස ය.
(3) ආපද් ධර්මය ලෙස ය.
(4) බ්‍රාහ්මණ ධර්මය ලෙස ය.
(5) ස්ව ධර්මය ලෙස ය.

**4.** බ්‍රාහ්මණ ඉගැන්වීම්වලට අනුව පූජක බ්‍රාහ්මණයා වුව ද නිසි වයසේ දී අනිවාර්යයෙන් විවාහ විය යුතු ය. එම නියමය සඳහා පදනම් වූයේ,
(1) විවාහ වී පුතකු බිහි කොට පියා අපාගත වීමෙන් වළකා ගැනීම ය.
(2) යාග කර්මයක් ආරම්භ කරනවිට ශුද්ධ ජලය ඇතුළත් පැන් කෙණ්ඩිය පූජක බ්‍රාහ්මණයාගේ බිරිඳගේ සුරතින් ලබා ගත යුතු වීම ය.
(3) යාගය නිමාවනතුරු පූජක බ්‍රාහ්මණයාගේ වම්පසින් බිරිඳ අසුන්ගෙන සිටිය යුතු වීම ය.
(4) අනෙකුත් කුලවල කාන්තාවන්ට නො ලැබෙන විශේෂ වරප්‍රසාදයක් බ්‍රාහ්මණ කුලයේ කාන්තාවන්ට ලබාදීම ය.
(5) නිසිවයසේ දී විවාහ වී කම්සැප නො විඳින පුරුෂයා නියම පිරිමියකු ලෙස නො පිළිගැනීම ය.

**5.** බ්‍රාහ්මණ සංස්කෘතියේ පදනම වූ වර්ණභේදය ඍජුව ප්‍රතික්ෂේප කෙරෙන සූත්‍රයකි,
(1) පරාභව සූත්‍රය
(2) අනත්තලක්ඛණ සූත්‍රය
(3) වසල සූත්‍රය
(4) අරියපරියෙසන සූත්‍රය
(5) ව්‍යග්ඝපජ්ජ සූත්‍රය

**6.** පැවිදි ගිහි සමාජ දෙකෙහි ම කාන්තාවන්ට නිසි තැන දීම අනුමත කරන බුදුදහම මාතෘත්වය ගෞරවනීයත්වයට පත් කළ බව ප්‍රකටවන හොඳ ම නිදසුන වන්නේ,
(1) කාන්තාවන්ට බුදු සසුනේ පැවිදිවීමට අවසර දීම ය.
(2) සිය දරුවා මියයාම නිසා බලවත් සේ දුකට පත්වී සිටි කිසාගෝතමියට පිහිටවීම ය.
(3) මව 'බ්‍රහ්ම' නාමයෙන් හැඳින්වීම ය.
(4) ප්‍රජාපතීගෝතමියට අෂ්ට ගරුධර්ම පැනවීම ය.
(5) රාහුල මාතාවට භික්ෂුණී පැවිද්ද ලබා දීම ය.

[දෙවැනි පිටුව බලන්න.

7. බුද්ධකාලීන භාරතීය බ්‍රාහ්මණ හා ශ්‍රමණ සංස්කෘතීන් එකිනෙක සැසඳීමේ දී පැහැදිලිවන පරිදි, පහත දැක්වෙන ප්‍රකාශ අතුරෙන් වඩාත් නිවැරදි ප්‍රකාශය වන්නේ,
   (1) බ්‍රාහ්මණ සංස්කෘතිය දේව නිර්මාණවාදය බැහැර කරන අතර ශ්‍රමණ සංස්කෘතිය එය පිළිගනියි.
   (2) බ්‍රාහ්මණ සංස්කෘතිය ආත්මවාදය ප්‍රතික්ෂේප කරන අතර ශ්‍රමණ සංස්කෘතිය එය පිළිගනියි.
   (3) බ්‍රාහ්මණ සංස්කෘතිය, උපත පදනම් කොටගෙන මිනිස් සමාජය වර්ගීකරණයට ලක් කරයි. ශ්‍රමණ සංස්කෘතිය එය බැහැර කරයි.
   (4) බ්‍රාහ්මණ සංස්කෘතිය මෙන්ම ශ්‍රමණ සංස්කෘතිය ද මිනිසාගේ ආගමික නිදහස අගය කරයි.
   (5) බ්‍රාහ්මණ සංස්කෘතිය මෙන්ම ශ්‍රමණ සංස්කෘතිය ද කාන්තා නිදහස අගය කරයි.

8. බුද්ධකාලීන භාරතයේ විසූ ෂට්ශාස්තෘවරුන් අතුරෙන් නියති පරිණාමයකින් විමුක්තිය ලැබේයැ'යි ඉගැන් වූ ශාස්තෘවරයා වූයේ,
   (1) මක්ඛලී ගෝසාල ය. (2) අජිත කේසකම්බලී ය. (3) පූරණ කස්සප ය.
   (4) පකුධ කච්චායන ය. (5) සංජය බෙල්ලට්ඨිපුත්ත ය.

9. බුද්ධකාලීන භාරතයේ පැවැති පාලන තන්ත්‍ර පිළිබඳ ව වඩාත් නිවැරදි ප්‍රකාශය වන්නේ,
   (1) වෛශාලිය අගනගරය කරගත් වජ්ජි රාජ්‍යය ප්‍රබල රාජාණ්ඩුවකි, යන්නයි.
   (2) රජගහනුවර අගනගරය කරගත් මගධ රාජ්‍යය ගණතන්ත්‍ර පාලනයකි, යන්නයි.
   (3) සාවත්ථිය අගනගරය කරගත් කොසොල් රාජ්‍යය කුඩා රාජ්‍යයකි, යන්නයි.
   (4) කුසිනාරාව අගනගරය කරගත් මල්ලරාජ්‍යය ගණතන්ත්‍ර පාලනයකි, යන්නයි.
   (5) උදේනිය අගනගරය කරගත් අවන්ති රාජ්‍යය සමූහාණ්ඩුවකි, යන්නයි.

10. ක්‍රි.පූ. හයවැනි සියවසේ භාරතීය සමාජය ශීඝ්‍ර ආර්ථික සංවර්ධනයක් සමග වාණිජකරණයට ද නාගරීකරණයට ද ලක්වෙමින් පැවැති බව විවිධ සාධක මගින් තහවුරු වේ. එහි ලා කැපී පෙනෙන ක්‍රියාකාරීන් පිරිසක් ලෙස සැලකිය හැක්කේ,
   (1) රජවරුන් ය. (2) සිටුවරුන් ය. (3) ඉඩම් හිමියන් ය.
   (4) කර්මාන්ත කරුවන් ය. (5) රාජ්‍ය නිලධාරීන් ය.

11. "ඉන්ද්‍රිය ප්‍රත්‍යක්ෂයට හසු නො වන සර්ව බලධාරී පුද්ගලයකු හෝ බලවේගයක් විසින් සත්ත්වයා හා ලෝකය මවා පාලනය කරනු ලැබේ." මෙයින් අදහස් වන්නේ,
   (1) ඊශ්වර නිර්මාණවාදයයි. (2) පරිණාමවාදයයි. (3) නියතිවාදයයි.
   (4) පුබ්බේකතහේතුවාදයයි. (5) අධිච්ච සමුප්පන්නවාදයයි.

12. සමාජ සංස්ථාවන්ගේ ප්‍රභවය හා විකාශය පිළිබඳ බ්‍රාහ්මණ හා ශ්‍රමණ කණ්ඩායම් අතර විවිධ මතවාද පැවතිණ. ඒ අතුරෙන් සමාජ ප්‍රභවය හා පරිණාමය සිදුවූයේ පුද්ගලයා සිය ගැටලුවලට විසඳුම් සෙවීමේ ප්‍රතිඵලයක් වශයෙන්ය'යි ප්‍රකාශ කරන ලද්දේ,
   (1) නිර්මාණවාදීන් විසිනි. (2) අහේතු අප්පච්චයවාදීන් විසිනි.
   (3) හේතු ඵලවාදීන් විසිනි. (4) පුබ්බේකත හේතුවාදීන් විසිනි.
   (5) නියතිවාදීන් විසිනි.

13. අන්‍යෝන්‍ය සුහදත්වය හා මිත්‍රත්වය ගොඩනැගීම සඳහා ඉවහල් වන සමාජ ධර්ම රාශියක් බුදුසමයෙහි උගන්වා තිබේ. එහි ලා උපයෝගී වන ප්‍රමුඛ සමාජ ධර්මයක් ලෙස සැලකිය හැක්කේ,
   (1) පණ්ඩිතයන් ඇසුරු කිරීම ය. (2) පරිත්‍යාගශීලීවීම ය.
   (3) නිතර ධර්මය ඇසීම ය. (4) ශිල්ප ශාස්ත්‍ර අධ්‍යයනය කිරීම ය.
   (5) විනයානුකූල ව ජීවත්වීම ය.

14. යුතුකම් හා වගකීම් පදනම් කොටගෙන සමාජ සම්බන්ධතා ජාලයක් ගොඩනැගෙන බව සිගාලෝවාද සූත්‍රය අවධාරණය කරයි. එහි දැක්වෙන පරිදි ශිෂ්‍යයා විසින් ගුරුවරයා විෂයයෙහි ඉටු කළ යුතු යුතුකමක් වන්නේ,
   (1) වත්පිළිවෙත් කිරීම ය. (2) යහපත් කොට හික්මවීම ය.
   (3) ප්‍රියවචනයෙන් සංග්‍රහ කිරීම ය. (4) විපතක් වූ කළ අත්නොහැරීම ය.
   (5) ගුණවර්ණනා කිරීම ය.

15. පුද්ගලයාගේ ස්වාධීනත්වය, ස්වච්ඡන්දතාව හා වගකීම ප්‍රකට කෙරෙන වඩාත් නිවැරදි ප්‍රකාශය වන්නේ,
   (1) තමා උපමාකොට අනුන්ට හිංසා පීඩා නො කළ යුතු ය, යන්නයි.
   (2) පව් කරන්නා දෙලොව ම තැවෙයි, යන්නයි.
   (3) සරුදේ සරු ලෙසත්, නිසරු දේ නිසරු ලෙසත් දැකිය යුතු ය, යන්නයි.
   (4) චේතනාව කර්මය වේ ය, යන්නයි.
   (5) තමාට පිහිට තමා ම ය, අන්කිසි පිහිටක් නැත, යන්නයි.



[තුන්වැනි පිටුව බලන්න.

16. "වෙසක් පෝදා උදෑසන ම විහාරස්ථානයට ගිය සීලවතී උපාසිකාව මලුපෙත් මං හැමද, මල්වට්ටි ගණනාවක් සූදානම් කොට බුද්ධ පූජාව පිළියෙල කළා ය. අනතුරුව උතුරා යනතෙක්, පහන්වලට තෙල් පුරවා පහන් දල්වා විහාර භූමිය ම සුවඳ දුමින් පිරෙන තරමට හඳුන්කූරු මිටියක් දැල්වූවා ය. ඉන්පසු ව පුදසුන මත බුද්ධ පූජාව තැන්පත් කළ ඇය බොහෝ වේලාවක් ශබ්ද නගා ගාථා කියමින් වන්දනා කළා ය." මේ විස්තරය අනුව ඇය පිළිබඳ ව දැක්විය හැකි වඩාත් නිවැරදි ප්‍රකාශය වන්නේ, සීලවතී උපාසිකාව,
(1) තෙරුවන් පිළිබඳ ව අසීමිත ශ්‍රද්ධාවක් ඇති තැනැත්තියකි යන්නයි.
(2) තෙරුවන් පිළිබඳ ව අසීමිත භක්තියක් ඇති තැනැත්තියකි යන්නයි.
(3) තෙරුවන් පිළිබඳ ව අචල ශ්‍රද්ධාවක් ඇති තැනැත්තියකි යන්නයි.
(4) පිනට කැපවූ ප්‍රඥාවන්ත තැනැත්තියකි යන්නයි.
(5) ශ්‍රද්ධාව හා සමාන ප්‍රඥාවක් ඇති තැනැත්තියකි යන්නයි.

17. "රටවැසියන්ගේ ආරක්ෂාව හා රැකවරණය පමණක් නොව ආර්ථික සංවර්ධනයත්, රටේ අපරාධ මර්දනයත්, සාමය හා සංහිඳියාවත්, රාජ්‍යයක සංවර්ධන ඉලක්ක ජය ගැනීමට සෘජුව ම බලපායි. එසේම පාලකයා අත්තනෝමතික, අගතිගාමී තීරණ ගැනීමෙන් රටට සිදු වන හානිය වළක්වා ගැනීමට මදයෙන් හා ප්‍රමාදයෙන් තොර පූජනීය විශාරදයන්ගේ අවවාද අනුශාසනා ලබා ගත යුතු ය." මෙම ඡේදයේ අන්තර්ගත බෞද්ධ දේශපාලන මූලධර්මය ලෙස හඳුනාගත හැක්කේ,
(1) දසරාජ ධර්මයයි. (2) දස සක්විති වතයි.
(3) සප්ත අපරිහානීය ධර්මයයි. (4) පංචසීල ප්‍රතිපදාවයි.
(5) සතර අගතියෙන් තොරවීමයි.

18. ස්වාධීන වූත්, අපක්ෂපාතී වූත් තීන්දු තීරණ ගැනීම යහ පාලනයක පැවැතිය යුතු ප්‍රමුඛතම ලක්ෂණයකි. ඒ සඳහා පාලකයකුට නිදහස් නිවහල් මනසින් සිය සිතුවිලි මෙහෙයවීමට හැකියාව තිබිය යුතු ය. මේ සඳහා සෘජුව අනුබල දෙන බෞද්ධ දේශපාලන මූලධර්මයක් ලෙස හඳුනාගත හැක්කේ,
(1) දස සක්විතිවත් අනුගමනය කිරීම යි. (2) දස රාජධර්ම අනුව පාලනය කිරීම යි.
(3) පංචශීල ප්‍රතිපදාවේ පිහිටා කටයුතු කිරීම යි. (4) සතර අගතියෙන් තොරව කටයුතු කිරීම යි.
(5) සතර සංග්‍රහ වස්තුවෙන් ජනතාවට සැලකීම යි.

19. "ඉදින් කුලපුත්‍රයා ස්වල්ප ආදායමක් ඇති ව බොහෝ වියදම් කෙරේ ද, දිඹුල ඵල කා දමන්නකු මෙන් හෙතෙම වස්තුව කා වැනසෙන්නෙකි" යි කියා ද "ඉදින් කුලපුත්‍රයා බොහෝ ආදායම් ඇති ව දුකසේ දිවි ගෙවයි ද හෙතෙම නොකා මැරෙන්නෙකි" යි කියා ද පවසන්නෝ වෙති. ඉහත ප්‍රකාශ දෙකින් ගම්‍යවන්නේ,
(1) භෝග සුඛය පිළිබඳ අදහසකි. (2) භෝග විනාශමුඛ පිළිබඳ අදහසකි.
(3) ධනෝපායනය පිළිබඳ අදහසකි. (4) සම්පත් ආරක්ෂා කර ගැනීම පිළිබඳ අදහසකි.
(5) සම්පත් කළමනාකරණය පිළිබඳ අදහසකි.

20. ගෘහස්ථ ප්‍රතිපදාවට අදාළ බෞද්ධ මූලාශ්‍රය අනුව ස්ත්‍රීධූර්ත නො වීම, සුරාධූර්ත නො වීම, අක්ෂධූර්ත නො වීම, කළ්‍යාණමිත්‍රයන්ට අවනත වීම, යන සිවු වැදෑරුම් කරුණු සෘජු ලෙස පුද්ගලයාගේ,
(1) ආර්ථික සංවර්ධනයට හේතු වේ. (2) පරලොව දියුණුවට හේතු වේ.
(3) නිර්වාණගාමී ප්‍රතිපදාවට හේතු වේ. (4) පරාර්ථ චර්යාවට හේතු වේ.
(5) ආධ්‍යාත්මික සංවර්ධනයට හේතු වේ.

21. ආර්ථික සමෘද්ධිය ගෘහස්ථ ජීවිතයට අත්‍යවශ්‍ය වූවක් ලෙස පිළිගන්නා බුදුසමය ඒ සඳහා දැහැමි පිළිවෙතක් ද නිර්දේශ කරයි. එසේම උපයාගත් සම්පත් කල්පනාකාරී ව හා නිවැරදි දැක්මක් සහිත ව පරිභෝජනය කළ යුතුබව ද දක්වයි. ඒ අනුව පුද්ගලයා ධාර්මික ව උපයාගත් ධනය,
(1) රිසි සේ පරිභෝජනය කළ යුතු ය.
(2) දානාදී සත්ක්‍රියා සඳහා ම වැය කළ යුතු ය.
(3) නො මුළාව ආදීනව දැන පරිභෝජනය කළ යුතු ය.
(4) තව තවත් වැඩි දියුණු කරමින් පරිභෝජනය කළ යුතු ය.
(5) සුරක්ෂිත කොට තැබීමට වැඩි කොටසක් වෙන් කළ යුතු ය.

22. 'සිවු සඟරාවත' යනුවෙන් හැඳින්වෙන්නේ පැවිදි ගිහි ඕනෑ ම පුද්ගලයකුට තමා අයත් සමාජය තුළ යහපත් ආකාරයෙන් පැවැතීමට බෙහෙවින් උපකාරී වන වටිනා පිළිවෙතකි. එසේ ම එය පාලකයකු විසින් අනුගමනය කළ යුතු වූ බෞද්ධ දේශපාලන මූලධර්මක් ලෙස ද සලකනු ලැබේ. මෙම සිවුවැදෑරුම් ප්‍රතිපදාවේ 'අත්ථචරියා' යනුවෙන් අදහස් කෙරෙන්නේ,
(1) ස්වාර්ථය පිණිස හැසිරීමයි. (2) ස්වාර්ථය හා පරාර්ථය පිණිස උනන්දු වීමයි.
(3) මෙරමාගේ දියුණුව පිණිස ක්‍රියා කිරීමයි. (4) සියලු දෙනාට සමාන ව සැලකීමයි.
(5) ජනතාවගේ දැහැමි ආරක්ෂාව සඳහා කැපවීමයි.

23. හිස් අතින් පැමිණ මිතුරාගෙන් යමක් ගෙන යාමට අපේක්ෂා කරන, සුළු දෙයක් දී වැඩියමක් ලබා ගැනීමට බලාපොරොත්තු වන, තමාට බියක් ඇති වූවිට පමණක් මිතුරා ඇසුරු කරන තමාගේ ප්‍රයෝජනය සඳහා ම කටයුතු කරන මිත්‍රයා හඳුන්වන්නේ,
(1) අඤ්ඤදත්ථුහර නමිනි. (2) වචීපරම නමිනි. (3) අනුප්පියභාණී නමිනි.
(4) අපාය සහාය නමිනි. (5) අත්ථක්ඛායී නමිනි.

**24.** සිගාලෝවාද සූත්‍රාගත බෞද්ධ සමාජ ආචාරධර්ම අනුව දානයෙන්, ප්‍රිය වචනයෙන්, අර්ථචර්යාවෙන්, සමානාත්මතාවෙන්, නො රැවටීමෙන් කුලපුත්‍රයා විසින් සැලකිලි දැක්විය යුත්තේ,
(1) මහණ බමුණන්ට ය. (2) ගුරුවරුන්ට ය. (3) දෙමව්පියන්ට ය.
(4) මිතුරන්ට ය. (5) දැසිදස් කම්කරුවන්ට ය.

**25.** "තිදොර සංවර කරගත් පැරණි ශ්‍රී ලාංකිකයෝ ප්‍රාණඝාතයෙන් මෙන් ම සත්ත්ව හිංසාවෙන් ද වැළකී සිටියහ. අන්සතු වස්තුවක් පිළිබඳ ව සිතින්වත් ලෝභ නො කළ ඔවුහු, බුදුසමයෙන් අනුමත දැහැමි කම්සැප පමණක් ම භුක්ති වින්දාහ. සත්‍ය වචනය ම ගරු කළ පැරැන්නෝ අනුන් රවටන මුසාබස් නොකීහ. තව ද ඔවුනොවුන් බිඳවන පිසුණු බසින් ද, සිත් රිදෙන රළු බසින් ද, වැඩකට නැති හිස් බසින් ද වැළකී දැහැමි කථාවෙහි ම යෙදුණහ. කිසිදු වස්තුවකට ඇඩි ලෝභ සිත් නො ඉපද වූ ඔවුහු වෛරයෙන් තොරව, මෙත් සිතින්, කම්පල අදහන නුවණින් වැඩි වැඩියෙන් පිං දහම්වල යෙදෙමින් සැනසිලිදායක ජීවිතයක් ගත කළහ." මේ ඡේදයට අනුව පැරණි ශ්‍රී ලාංකික බෞද්ධයෝ,
(1) දස පින්කිරියවත් සම්පූර්ණ කළහ. (2) දස අකුසල්වලින් වැළකී සිටියහ.
(3) දස පාරමිතා පිරූහ. (4) දස සිල් සමාදන් ව කල් ගෙවූහ.
(5) දස සංයෝජන ප්‍රහානය කිරීමේ යෙදී සිටියහ.

**26.** බෞද්ධ ඉගැන්වීම් අනුව හොඳ-නරක විනිශ්චය කිරීම සඳහා වඩාත් නිවැරදි නිර්ණායකය ලෙස සැලකිය හැක්කේ,
(1) පාරම්පරික ව පැවැත එන අදහස් නිවැරදි යයි පිළිගැනීමයි.
(2) පිටක ග්‍රන්ථවල දැක්වෙන විවරණ නිවැරදි යයි පිළිගැනීමයි.
(3) ගුරුවරයා ඉගැන්වූ දේ නිවැරදි යයි පිළිගැනීමයි.
(4) තමන්ගේ න්‍යායට තර්කයට අනුරූප වන දේ නිවැරදි යයි පිළිගැනීමයි.
(5) ස්වාධීන චින්තනයට හා හෘදය සාක්ෂියට අනුරූප වන දේ නිවැරදි යයි පිළිගැනීමයි.

**27.** අට ලෝ දහමෙන් කම්පා නො වී සිටීමට ශ්‍රාවකයන්ට උපදෙස් දුන් බුදුරජාණන් වහන්සේ, තමා වෙත පැමිණි ලාභ-අලාභ, අයය-යස, නින්දා-ප්‍රසංශා, සැප-දුක්වලදී කිසිවිටෙක උද්දාමයට හෝ කම්පාවට පත් නො වී පරමාදර්ශී බවක් ප්‍රකට කළහ. බුද්ධ චරිතයෙන් ප්‍රකට වන මේ විශිෂ්ට ගුණය හැඳින්වෙන්නේ,
(1) පද්මාකාර ජීවිතය ලෙස ය. (2) යථාවාදී තථාකාරී ගුණය ලෙස ය.
(3) තාදී ගුණය ලෙස ය. (4) අරහං ගුණය ලෙස ය.
(5) ලෝකවිදූ ගුණය ලෙසය.

**28.** සිද්ධාර්ථ මහ බෝසතාණන් වහන්සේ සම්බුද්ධත්වයට පත්වීමේ දී ලැබූ සර්වඥතාඥානය සමග අෂ්ට විද්‍යා ඥාන උපදවා ගත්බව බුද්ධ චරිතයේ දැක් වේ. එම ඥානයන්ට අයත් වන දිබ්බචක්ඛු ඥානය නම්,
(1) පෙර ආත්ම පිළිබඳ දැනගැනීමේ ඥානයයි.
(2) දෙවියන්ගේ සිත්වල ඇති දේ දැකීමේ ඥානයයි.
(3) මිනිසුන්ගේ සිත්වල ඇති දේ දැකීමේ ඥානයයි.
(4) සත්ත්වයාගේ චුතිය හා උත්පත්තිය දැන ගැනීමට ඉවහල් වන ඥානයයි.
(5) ලෝකය යථාර්ථ වශයෙන් දැක ගැනීමේ ඥානයයි.



**29.** බුදුරජාණන් වහන්සේ විවිධ අවස්ථාවල දී තම ශ්‍රාවක-ශ්‍රාවිකාවන්ගේ දක්ෂතා අගයකොට තනතුරු ප්‍රදානය කළහ. ඒ අනුව චිරරාත්‍රඥ භික්ෂූන් අතර අගතනතුර ප්‍රදානය කරන ලද්දේ අඤ්ඤා කොණ්ඩඤ්ඤ හිමියන්ට ය. මෙහි 'චිරරාත්‍රඥ' යන්නෙන් අදහස් කර ඇත්තේ,
(1) දිවැස් ලබා ඇති බව ය. (2) මධුර ස්වරයෙන් ධර්මදේශනා කළ හැකි බව ය.
(3) වැඩි ශිෂ්‍ය පිරිසකගේ නායකත්වය දැරූ බව ය. (4) මනෝමය රූප මැවීමේ දක්ෂතාව ඇති බව ය.
(5) ජ්‍යෙෂ්ඨත්වයෙන් වැඩි බව ය.

**30.** භික්ෂු සංඝයා කැමතිනම් ඛුද්දානුඛුද්දක ශික්ෂා පද වෙනස්කර ගැනීමට බුදුරදුන් අවසර දී තිබුණ ද පනවා ඇති සියලු ශික්ෂාපද එලෙසින් ම පවත්වා ගෙන යාමට ප්‍රථම ධර්ම සංගීතියට සහභාගී වූ භික්ෂූහු තීරණය කළහ. මේ අනුව ඛුද්දානුඛුද්දක ශික්ෂා වෙනස් නො කිරීමට බලපෑ ප්‍රධාන සාධකය වූයේ,
(1) ආනන්ද හිමියන්ගේ විරෝධතාව යි.
(2) ලෝකාපවාද ලැබීම වළක්වා ගැනීම යි.
(3) බුද්ධ නියමයන් ඉක්මවිය නො හැකි වීම යි.
(4) විනයධර උපාලි තෙරුන්ගේ නො කැමැත්ත යි.
(5) සංගායනා අවස්ථාවේ එවැනි ගැටලුවක් සාකච්ඡාවට නො ගැනීම යි.

**31.** බුදුරජාණන් වහන්සේ, ප්‍රථම ධර්ම දූත කණ්ඩායම අමතා, දෙව් මිනිසුන්ගේ හිතසුව පිණිස, මුල-මැද-අග යහපත් වූ පාරිශුද්ධ වූ ධර්මය දේශනා කරන්නැයි ද, එක මඟක දෙදෙනකු නො යන්නැයි ද අවවාද කළහ. මේ අවවාදයෙන් බලාපොරොත්තු වී ඇත්තේ,
(1) ශ්‍රාවක පිරිසේ ආරක්ෂාව ය.
(2) ශ්‍රාවකයන් හුදකලා ජීවිතයට හුරු කිරීම ය.
(3) වැඩි පිරිසකට ඉක්මනින් ධර්ම පණිවිඩය ලබා දීම ය.
(4) ශ්‍රාවක පිරිස අතර මතවාද-ගැටුම් ඇතිවීම වැළැක්වීම ය.
(5) භික්ෂූන් සංචාරක ජීවිතයට හුරු කිරීමය.

[පස්වෙනි පිටුව බලන්න.

**32.** ප්‍රථම ධර්ම සංගීතියේ දී ධර්ම-විනය සංරක්ෂණය සඳහා සමස්ත බුද්ධ වචනය ග්‍රන්ථ වශයෙන් වර්ගීකරණය කරන ලදී. එහිදී ධර්මය සංග්‍රහ කරන ලද්දේ,
(1) පාරාජික පාළි, පාචිත්තිය පාළි, චුල්ලවග්ග පාළි, මහාවග්ග පාළි, පරිවාර පාළි වශයෙනි.
(2) ධම්මසංගණී, විභංග, ධාතුකථා, පුද්ගල පඤ්ඤත්ති, යමකප්පකරණ වශයෙනි.
(3) දීඝ නිකාය, මජ්ඣිම නිකාය, සංයුක්ත නිකාය, මහාවග්ග පාළි, පරිවාර පාළි වශයෙනි.
(4) දීඝ නිකාය, මජ්ඣිම නිකාය, සංයුක්ත නිකාය, අංගුත්තර නිකාය, ඛුද්දක නිකාය වශයෙනි.
(5) දීඝ නිකාය, මජ්ඣිම නිකාය, සංයුක්ත නිකාය, පාරාජික පාළි, පාචිත්තිය පාළි වශයෙනි.

**33.** දශ අකැප වස්තුවේ දැක්වෙන 'ගාමන්තර කප්ප' යනුවෙන් අදහස් කරන්නේ,
(1) ගම්දෙකක දී පිඬුසිඟීම කැප බව ය.
(2) වරක් වළඳා තවත් ගමකට ගොස් නැවත වැළඳීම කැප බව ය.
(3) ගමින්ගමට ලුණු රැගෙනයාම කැප බව ය.
(4) එක් ගමක දී දෙවරක් වැළඳීම කැප බව ය.
(5) ග්‍රාමාන්තර සංචාරයේ දී කිහිපවරක් වැළඳීම කැප බව ය.

**34.** මොග්ගලීපුත්ත තිස්ස මහතෙරුන් විසින් 'කථාවත්ථුව' රචනා කිරීම තුන්වැනි ධර්ම සංගායනාවේ වැදගත් ප්‍රතිඵලයකි. කථාවත්ථුප්පකරණයේ අන්තර්ගතය පිළිබඳ ව පහත සඳහන් ප්‍රකාශ අතුරෙන් වඩා ම නිවැරදි ප්‍රකාශය වන්නේ,
(1) භික්ෂු විනය මැනවින් පවත්වාගෙන යාමට රචනා කරන ලද විනය පිටකයට අයත් ග්‍රන්ථයකි.
(2) ධර්ම ගැටලු පැහැදිලි කරමින් රචිත සූත්‍රපිටකයට අයත් කෘතියකි.
(3) පරවාද මර්දනය සඳහා රචිත පිටකත්‍රයට අයත් නො වන ග්‍රන්ථයකි.
(4) තෙවැනි සංගායනාවේ විස්තර වාර්තා සපයන මූලාශ්‍රය කෘතියකි.
(5) අන්‍යනිකායික මතවාදවල වැරදි පෙන්වා දෙමින් ථේරවාදී මතය තහවුරු කිරීමට රචිත අභිධර්ම පිටකයට අයත් ග්‍රන්ථයකි.

**35.** පැරණි භාරතීය කීර්තිමත් විශ්වවිද්‍යාල අතුරෙන් මහායාන **නො වන** බෞද්ධ නිකායයන්ට අයත් ආයතනය ලෙස හඳුනාගෙන ඇත්තේ,
(1) වලභි විශ්වවිද්‍යාලයයි.
(2) තක්ෂිලා විශ්වවිද්‍යාලයයි.
(3) වික්‍රමශිලා විශ්වවිද්‍යාලයයි.
(4) ඕදන්තපුරී විශ්වවිද්‍යාලයයි.
(5) නාලන්දා විශ්වවිද්‍යාලයයි.

**36.** පණ්ඩුකාභය රාජ්‍ය සමය වනවිට ශ්‍රී ලංකාවෙහි වන්දනීයත්වයට පත්ව තිබුණු වෘක්ෂ දෙකක් ලෙස සැලකෙන්නේ,
(1) නුග ගස හා බෝ ගස ය.
(2) නුග ගස හා නා ගස ය.
(3) තල් ගස හා නුග ගස ය.
(4) තල් ගස හා බෝ ගස ය.
(5) බෝ ගස හා නා ගස ය.

**37.** මිහිඳු මහරහතන් වහන්සේ විසින් ශ්‍රී ලංකාවට බුදුදහම හඳුන්වා දීමත් සමග බොහෝ ස්ත්‍රී පුරුෂයෝ නිවන් මගෙහි ගමන් කිරීම සඳහා බුදු සසුනෙහි පැවිදිවීමට ඉදිරිපත් වූහ. එසේ පැවිදි වීමට අවසර ඉල්ලා සිටි අනුලා බිසව ඇතුළු රාජකීය කාන්තාවන් පැවිදි කිරීමට මිහිඳු මාහිමියන් ඉදිරිපත් **නො වූයේ,**
(1) කාන්තාවන් පැවිදි කිරීමෙන් ශ්‍රී ලංකාවේ බුදුසසුන දිගුකල් නො පවතිය යන හැඟීම නිසා ය.
(2) අනුලා වූ කලී රජබිසව වූ බැවින් ඇය පැවිදි කිරීමෙන් දෙවනපෑතිස් රජුගේ උදහසට ලක්වේ ය යන හැඟීම නිසා ය.
(3) ස්ත්‍රීන් පැවිදි කිරීමට ප්‍රමාණවත් භික්ෂු පිරිසක් මිහිඳු මාහිමියන් සමග පැමිණ නො සිටි නිසා ය.
(4) අනුලා බිසව ඇතුළු පිරිස පැවිදිවීමට ප්‍රමාණවත් මූලික බණ-දහම් ප්‍රගුණකොට නො තිබූ නිසා ය.
(5) ස්ත්‍රීන් පැවිදි කිරීමට මූලික විය යුත්තේ භික්ෂුණීන් ය යන විනය නීතිය නිසා ය.

**38.** ශ්‍රී ලංකාවේ පළමුවරට මාඝාත ආඥාව නීතියක් ලෙස පනවන ලද්දේ,
(1) වළගම්බා රජු විසිනි.
(2) සිරිසඟබෝ රජු විසිනි.
(3) දුටුගැමුණු රජු විසිනි.
(4) ආමණ්ඩ ගාමිනී රජු විසිනි.
(5) මහසෙන් රජු විසිනි.

**39.** අනුරාධපුර යුගයේ ප්‍රධාන වෙහෙර-විහාර මුල්කර ගනිමින් විවිධ බෞද්ධ උත්සව පුද පූජා ආරම්භ විය. කිත්සිරි මෙවන් රජු කල දළදා පූජාව ආරම්භ වූයේ,
(1) මහාවිහාරය මුල්කර ගෙන ය.
(2) අභයගිරි විහාරය මුල්කර ගෙන ය.
(3) චේතියගිරි විහාරය මුල්කර ගෙන ය.
(4) ජේතවන විහාරය මුල්කර ගෙන ය.
(5) දක්ඛිණගිරි විහාරය මුල්කර ගෙන ය.

**40.** 'සීහල සංඝ' නමින් හැඳින්වෙන්නේ,
(1) බුරුම භික්ෂුවක බුරුමයේ දී පිහිට වූ නිකායකි.
(2) බුරුම භික්ෂුවක ශ්‍රී ලංකාවේ දී පිහිටුවන ලද නිකායකි.
(3) ශ්‍රී ලාංකික භික්ෂුවක බුරුමයේ දී ස්ථාපනය කරන ලද නිකායකි.
(4) ශ්‍රී ලාංකික භික්ෂුවක චීනයේ දී පිහිටුවන ලද නිකායකි.
(5) ශ්‍රී ලාංකික භික්ෂුණියක චීනයේ දී පිහිටුවන ලද නිකායකි.

[හයවැනි පිටුව බලන්න.

**41.** සාම්ප්‍රදායික ෂින්තෝ භක්තිකයන්ගේ බලවත් විරෝධතා නොසලකා බුද්ධදහම ජපානය තුළ ස්ථාපනය කිරීමෙහි ලා ජීවිත පරිත්‍යාගයෙන් පුරෝගාමී මෙහෙවරක් ඉටු කළේ,
(1) සොග පරපුර ය. (2) මොනොනොබෙ පරපුර ය. (3) නකතොමි පරපුර ය.
(4) නකමුර පරපුර ය. (5) ෆුජිවර පරපුර ය.

**42.** මියගිය ඥාතීන්ට සංග්‍රහ කිරීම සඳහා ජපන් බෞද්ධයන් විසින් මහත් හරසරින් පවත්වනු ලබන බෞද්ධ උත්සවය හැඳින්වෙන්නේ,
(1) හනමත්සූරි නමින් ය. (2) ජෝ දෝ ඒ නමින් ය. (3) නෙහන් ඒ නමින් ය.
(4) බොන් නමින් ය. (5) හිගන් ඒ නමින් ය.

**43.** චීන ජනතාව තුළ ආත්ම විශ්වාසය, කැපවීම හා ශික්ෂණය ඇතිකොට, චීන බුද්ධදහම නව මාවතකට යොමු කරමින් බෝධිධර්ම හිමියන් විසින් ඉදිරිපත් කරන ලද සම්ප්‍රදාය හැඳින්වෙන්නේ,
(1) මාධ්‍යමික නමිනි. (2) යෝගාචාර නමිනි. (3) සර්වාස්තිවාදී නමිනි.
(4) ථේරවාද නමිනි. (5) ධ්‍යාන නමිනි.

**44.** ස්තූප නිර්මාණය හා සෘජු ව බද්ධ වූ ව්‍යවහාරයක් ලෙස 'ථූපාරහ' යන්න දැක්වේ. 'ථූපාරහ' යන්නෙන් අර්ථවත් වන්නේ,
(1) ස්තූප පූජාවෙන් රහත්වීමට හැකි බව ය. (2) ස්තූප ඉදිකොට පුද පූජා කිරීමට සුදුසු වන බව ය.
(3) රහතන් වෙනුවෙන් ස්තූප ඉදිකළ යුතු බව ය. (4) ස්තූප වන්දනාවේදී 'අරහං' බුදු ගුණය සිහිකළ යුතු බව ය.
(5) බුදු, පසේබුදු, බුද්ධ ශ්‍රාවක, බෝධිසත්ත්ව යන සිවු පිරිස මිස අන් කිසිවෙකු වෙනුවෙන් ස්තූප ඉදි නො කළ යුතු බව ය.

**45.** ස්තූපයේ ඒ ඒ අංගවලින් විවිධාර්ථ සංකේතවත්වන බව පිළිගනු ලැබේ. ඒ අනුව ස්තූපයේ ගර්භයෙන් නිරූපණය වන්නේ,
(1) සුවාසූ දහසක් ධර්මස්කන්ධයයි. (2) බුදුරජාණන් වහන්සේගේ ගුණකදම්බයේ ඇති මහත්බවයි.
(3) නවාංග සත්ථු සාසනයයි. (4) සත්තිස් බෝධිපාක්ෂික ධර්මයයි.
(5) ආර්ය අෂ්ටාංගික මාර්ගයයි.

**46.** ස්තූපයේ ආරක්ෂාවත්, ස්තූප වන්දනාවේ යෙදෙන සැදැහැවතුන්ගේ පහසුව හා ආරක්ෂාවත් සඳහා ඇතැම් ඉපැරණි ස්තූප වටා ඉදිකර ඇති 'චෛතිය සරයට' පැහැදිලි නිදසුනක් වන්නේ,
(1) ථූපාරාමයයි. (2) අභයගිරියයි. (3) ජේතවනයයි. (4) අටදාගෙයයි. (5) හැටදාගෙයයි.

**47.** සම්බුද්ධ පරිනිර්වාණයේ සිට දිගු කලක් ගතවනතුරු බුද්ධ ප්‍රතිමාවක් නිර්මාණය **නො වීමට** බල පෑ ප්‍රධානතම සාධකය නම්,
(1) ඉන්දියානු කලා ශිල්පීන් ප්‍රතිමා නිර්මාණය පිළිබඳ ව ප්‍රමාණවත් දැනුමකින් යුක්ත ව නො සිටීම ය.
(2) බුදුරදුන් අප්පටිම පුද්ගලයකු වීම ය.
(3) බුදුරදුන් වැනි ලෝකෝත්තර පුද්ගලයකුගේ රුව නෙළීමට බිය වීම ය.
(4) බුදුරදුන් ස්තූප නිර්මාණයට අවසර දී තිබුණ ද ප්‍රතිමාකරණයට අවසර දී නො තිබීම ය.
(5) බුද්ධ ප්‍රතිමා නෙළීමේ අවශ්‍යතාව මතුවන කාලය වනවිට බුදුරදුන් සියැසින් දුටු කිසිවකු ජීවත් ව නො සිටීම ය.

**48.** ශ්‍රී ලාංකික කලාකරුවා විවිධ මුද්‍රාවලින් යුත් බුද්ධ ප්‍රතිමා නිර්මාණය කොට ඇත. ඒ අතුරෙන් අවුකන බුද්ධ ප්‍රතිමාවෙන් නිරූපණය වන්නේ,
(1) වරද මුද්‍රාව ය. (2) කටක මුද්‍රාව ය. (3) විතර්ක මුද්‍රාව ය.
(4) අභය මුද්‍රාව ය. (5) ධර්මචක්‍ර මුද්‍රාව ය.

**49.** ශෘංගාරාත්මක හැඟීම් දනවන හෝ කාමෝද්දීපනය වන ආකාරයේ සිතුවම් පැරණි විහාරාරාමවල නිර්මාණය **නො වීමට** හේතුව ලෙස සැලකිය හැක්කේ,
(1) බුදුසමය ලෞකිකත්වය ප්‍රතික්ෂේප කිරීම ය.
(2) පැරණි කලාකරුවන්ට සෞන්දර්ය රසවින්දනාත්මක අත්දැකීම් නොමැතිවීම ය.
(3) විනය නීති මගින් සිතුවම්කරණය පිළිබඳ සීමා නියමයන් භික්ෂූන්ට පනවා තිබීම ය.
(4) විහාරාරාම තුළ එවැනි සිතුවම් ඇඳීම රාජ නියෝග මගින් තහනම් කර තිබීම ය.
(5) එවැනි සිතුවම් ඇඳීම බැතිමතුන්ගේ අප්‍රසාදයට හේතුවීම ය.

**50.** බෞද්ධ කථාවස්තු තේමා කරගත් අමාවතුර, බුත්සරණ, ජාතක පොත් වහන්සේ, සද්ධර්ම රත්නාවලිය වැනි පැරණි ගද්‍ය සාහිත්‍ය නිර්මාණ කියවා රස විඳීමට වඩා අසා රස විඳීමට හැකි වන පරිදි දේශනා ශෛලියකින් රචනා කිරීමට තුඩුදුන් ප්‍රධාන සාධකයක් ලෙස හඳුනාගත හැක්කේ,
(1) පැරණි සාහිත්‍ය නිර්මාණකරුවන් වෙනත් භාෂා ශෛලියක් නො දැන සිටීමයි.
(2) සාහිත්‍ය නිර්මාණකරුවන් දේශනා ශෛලිය වඩාත් ප්‍රිය කිරීමයි.
(3) බෞද්ධ තේමා පදනම් කරගත් සාහිත්‍ය කෘති දේශනා ශෛලියෙන් පමණක් රචනා කළ යුතුයැ'යි සම්මතයක් පැවැතීමයි.
(4) පූර්වාදර්ශයක් කර ගැනීමට දේශනා ශෛලිය හැර වෙනත් ශෛලියකින් ලියූ ගද්‍ය සාහිත්‍ය කෘති නොමැති වීමයි.
(5) අකුරු කියැවීමට නො දත් බැවින් අසා රසවිඳීමට වැඩිදෙනකු පුරුදු වී සිටීමයි.

* * *

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2015 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2015 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2015

| | | |
|---|---|---|
| බෞද්ධ ශිෂ්ටාචාරය II<br>பௌத்த நாகரிகம் II<br>Buddhist Civilization II | 45 S II | පැය තුනයි<br>மூன்று மணித்தியாலம்<br>Three hours |

**උපදෙස්:**

※ **I කොටසින්** ප්‍රශ්න **දෙකක්** ද, **II කොටසින්** ප්‍රශ්න **තුනක්** ද තෝරාගෙන, ප්‍රශ්න **පහකට** පිළිතුරු සපයන්න.

※ සෑම ප්‍රශ්නයකට ම ලකුණු **20** බැගින් හිමි වේ.

## I කොටස

**1.** (i) වෛශ්‍ය වර්ණයට හිමි ස්වධර්මය නිවැරදි ව දක්වන්න.

(ii) නිර්මාණවාදය බුදුසමයෙන් ප්‍රතික්ෂේප වනබවට සාධක **තුනක්** ඉදිරිපත් කරන්න.

(iii) බිරිඳක් වශයෙන් කාන්තාවට හිමි වූ ගෞරවනීය ස්ථානය බෞද්ධ ඉගැන්වීම් අනුව පැහැදිලි කරන්න.

(iv) මක්ඛලී ගෝසාල ශාස්තෘවරයාගේ ඉගැන්වීම් කෙටියෙන් පෙන්වා දෙන්න.

(v) බුද්ධකාලීන භාරතයේ පැවැති ප්‍රධාන රාජාණ්ඩු හඳුන්වන්න.

**2.** (i) බුද්ධකාලීන භාරතයේ කෘෂි ආර්ථික ජීවන රටාවක් පැවැතිබව සාධක **තුනක්** මගින් පෙන්වා දෙන්න.

(ii) රාජ්‍යයේ ප්‍රභවය පිළිබඳ බෞද්ධ ඉගැන්වීම ඉදිරිපත් කරන්න.

(iii) බෞද්ධ ඉගැන්වීම් මගින් පුද්ගලයාගේ ස්වාධීනත්වය තහවුරු කොට ඇතිබව කෙටියෙන් පැහැදිලි කරන්න.

(iv) සක්විතිවත්වලින් යහපත් පාලන තන්ත්‍රයක් අවධාරණය කොට ඇතිබව සාකච්ඡා කරන්න.

(v) ගෘහස්ථ ජීවිතයේ යහපැවැත්ම සඳහා සතර සංග්‍රහ වස්තුවලින් ලැබිය හැකි පිටිවහල පරීක්ෂා කරන්න.

**3.** (i) භික්ෂුණී ශාසනයේ ප්‍රභවය සිදු වූ ආකාරය පැහැදිලි කරන්න.

(ii) සිගාලෝවාද සූත්‍රයට අනුව ගුරු සහ ශිෂ්‍ය යුතුකම් හා වගකීම් නම් කරන්න.

(iii) සුරාපානයෙන් වැළකීමේ සමාජමය වටිනාකම පෙන්වා දෙන්න.

(iv) බෞද්ධ ඉගැන්වීම් අනුව ශ්‍රද්ධාව හඳුන්වන්න.

(v) අල්පේච්ඡ ජීවිතයක කාලීන වැදගත්කම ප්‍රකට කරන්න.

## II කොටස

**4.** (i) බුදුසමයෙන් අනුමත දැහැමි ධනෝපායන ක්‍රම සමාජ සංවර්ධනයට ඉවහල්වන ආකාරය පැහැදිලි කරන්න.

(ii) පරිසර සංරක්ෂණය පිළිබඳව බෞද්ධ ඉගැන්වීම් වර්තමාන පාරිසරික ගැටලු අවම කර ගැනීමෙහි ලා භාවිත කළහැකි ආකාරය පෙන්වා දෙන්න.

(iii) චතුර්විධ සුඛය පිළිබඳව බෞද්ධ ඉගැන්වීම තෘප්තිමත් ගෘහජීවිතයක් සඳහා උපයෝගී වන ආකාරය විස්තර කරන්න.

(iv) සුවදායක දිවිපෙවෙතක් උදෙසා ධාර්මික ප්‍රීති සුඛයෙන් විවේකය ගත කළ යුත්තේ කෙසේ දැ'යි බෞද්ධ ඉගැන්වීම් මගින් ප්‍රකට කරන්න.

**5.** (i) අට ලෝ දහමින් කම්පා වන සමාජයට බුදුරජාණන් වහන්සේගේ තාදී ගුණයෙන් ලබා ගත හැකි ආදර්ශ ගෙනහැර දක්වන්න.

(ii) නූතන ආගමික ගැටුම් අවම කර ගැනීමෙහි ලා බුදුසිරිතෙන් ප්‍රකට වන ආගමික සහනශීලී ගුණය උපයෝගී කොට ගත හැකි ආකාරය පෙන්වා දෙන්න.

(iii) වස් විසීමේ චාරිත්‍රය හා බැඳි ආගමික කටයුතු ගිහි-පැවිදි දෙපක්ෂයේ ම ආධ්‍යාත්මික සංවර්ධනයට හේතු වන ආකාරය පැහැදිලි කරන්න.

(iv) ගුරුවරයකු වශයෙන් බුදුරජාණන් වහන්සේගේ ශ්‍රේෂ්ඨත්වය නිදසුන් මගින් ප්‍රකට කරන්න.

[ දෙවැනි පිටුව බලන්න.

**6.** (i) පළමු ධර්මදූත කණ්ඩායමේ සංයුතිය පැහැදිලි කොට බුදුසසුනේ ව්‍යාප්තියට එමගින් ලැබුණු පිටිවහල පෙන්වා දෙන්න.

(ii) තෙවැනි ධර්ම සංගායනාවේදී ගනු ලැබූ ක්‍රියාමාර්ග ශාසන චිරස්ථිතියට හේතු වූ අයුරු පැහැදිලි කරන්න.

(iii) ධර්මාශෝක අධිරාජයාගේ ශාසනික මෙහෙවර උදාහරණ සහිත ව ඇගයීමට ලක් කරන්න.

(iv) නාලන්දා විශ්වවිද්‍යාලයේ පැවැති අධ්‍යාපන හා පරිපාලන ක්‍රියාවලිය පිළිබඳ ප්‍රමාණවත් විවරණයක් සපයන්න.

**7.** (i) ප්‍රාග් බෞද්ධ ලංකාවේ පැවැති ආගමික විශ්වාස, ඓතිහාසික මූලාශ්‍රය නයින් විවරණය කරන්න.

(ii) අනුරාධපුර යුගයේ ශ්‍රී ලාංකේය රාජ්‍යපාලනය විෂයයෙහි භික්ෂූන් වහන්සේගේ මැදිහත්වීම කෙබඳු වීදැ'යි විමසුමක් කරන්න.

(iii) බුරුම ජනජීවිතය බෞද්ධ සාරධර්මවලින් පෝෂණය වී ඇති අයුරු පැහැදිලි කරන්න.

(iv) ජපන් ජාතිකයන්ගේ සාර්ථකත්වය සඳහා බුදුසමයෙන් ලැබුණු ආලෝකය පෙන්වා දෙන්න.

**8.** (i) ශ්‍රී ලාංකික ස්තූප ආකෘති හඳුන්වාදෙමින් ස්තූපාංගවලින් නිරූපිත අර්ථ පැහැදිලි කරන්න.

(ii) පොළොන්නරු ගල් විහාරයේ නිර්මාණය කොට ඇති ප්‍රතිමාවල සුවිශේෂ ලක්ෂණ කවරේ දැ'යි පෙන්වා දෙන්න.

(iii) සඳකඩපහණෙහි ඒ ඒ අංගවලින් නිරූපණය වන සංකේතාර්ථ පිළිබඳ විචාරක මත **දෙකක්** ගෙනහැර දක්වන්න.

(iv) බුදුරදුන් පිළිබඳ ශ්‍රද්ධාව ජනනය කිරීම සඳහා ගීත සාහිත්‍යයෙන් ලැබෙන අනුබලය සනිදර්ශන ව පෙන්වා දෙන්න.

* * *